මුද්දර නිවේදන අංක
முத்திரைச் செய்தித்தாள் இல.
Stamp Bulletin No. } 535

# සමරු නිකුත් කිරීම
# ஞாபகார்த்த வெளியீடு
# Commemorative Issue













## ශ්‍රී ලංකාවේ කඳුකර ජෛව විවිධත්වය
## இலங்கையில் மலைகளிலுள்ள தாவரங்கள், உயிரினங்களின் பல்வகைமை
## Mountain Biodiversity of Sri Lanka

2003.05.22

**Philatelic Bureau**
Department of Posts,
No. 27, M. I. C. H. Building, Bristol Street,
Colombo 00100, SRI LANKA.

මුද්දර කාර්යාංශය
තැපැල් දෙපාර්තමේන්තුව
අංක 27, යෝ. ඉ. සං. නි, බ්‍රිස්ටල් වීදිය,
කොළඹ 00100.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
சோ. இ. க. நி. கட்டடம்,
இல. 27, பிரிஸ்டல் வீதி, கொழும்பு 00100.

තැපැල් දෙපාර්තමේන්තුව
ට්‍රාන්ස්වර්ක්ස් මන්දිරය,
කොළඹ 00100.

2003 මැයි මස 22 වැනි දිනට යෙදෙන ලෝක ජෛව විවිධත්ව දිනය සැමරීම සඳහා ශ්‍රී ලංකාවේ කඳුකර ජෛව විවිධත්වය විදහා දැක්වෙන රු. 4.00, රු. 4.50, රු. 16.50 සහ රු. 23.00 ක වටිනාකම්වලින් යුත් නව තැපැල් මුද්දර 04 ක්, කිළිණ ඇසුරුම්පතක් සහ ශ්‍රී ලංකාවේ ප්‍රථම වරට විසිතුරු තැපැල්පත් 04ක් තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය විසින් 2003 මැයි මස 22 වැනි දින නිකුත් කෙරේ.

ගොඩ්වානාලන්තයේ කොටසක් සම්පූර්ණයෙන්ම සාගරයේ ගිලී නොපවතින ලෙස පිහිටීමෙන් ශ්‍රී ලංකාව නිර්මාණය වූ බව භූගෝලීය අතීතය සාක්ෂි දරයි. මෙම දිවයිනේ භූ තලයේ විශාල කොටසක් (90% පමණ) ප්‍රාග් කේම්බ්‍රීය ස්ඵටික පාෂාණවලින් සමන්විතය.

භූ තලයේ පරිනාමය හා භූ විෂමතාවයේ ස්වභාවය අනුව ශ්‍රී ලංකාව පහත සඳහන් ප්‍රධාන භූගෝලීය කලාප පහකට බෙදා දැක්විය හැකිය.

(අ) මධ්‍යම කඳුකරය
(ආ) වෙරළබඩ කලාපය
(ඇ) නිරිතදිග තැනිතලාව
(ඈ) නැගෙනහිර හා ගිණිකොනදිග තැනිතලාව
(ඉ) උතුරු (උතුරු මැද) දිග තැනිතලාව.

ශ්‍රී ලංකාවේ උසම ස්ථානය වූ පිදුරුතලාගල අයත් පිදුරුතලාගල කඳුවැටිය, කිරිගල්පොත්ත කන්ද හා සප්තකන්‍යා කඳුවැටිය ආදියෙන් සමන්විත මධ්‍යම කඳුකරය හා රිටිගල වැනි හුදකලා කඳු රාශියකින් සමන්විත පහත් තැනිතලා ප්‍රදේශය ලෙස ශ්‍රී ලංකාවේ කඳුකර භූගෝලීය පරිසරය ප්‍රධාන කොටස් දෙකකට බෙදිය හැකිය.

කඳු මෙන්ම කඳුකර පරිසරය, ජලය, බලශක්තිය හා ජෛව විවිධත්වය වැනි සාධකවල ඉතා වැදගත් ප්‍රභවයක් වන අතර තවදුරටත් ඛනිජ, වන හා කෘෂි නිෂ්පාදන වැනි සම්පත් ලබාදෙන ප්‍රභවයක් ද වේ.

මෙම ග්‍රහලෝකයේ සංකීර්ණ හා ඒකාබද්ධ ජෛව උපකාරක පද්ධතියේ උප කොටසක්වන කඳුකර පරිසරය ජගත් හා ජාතික මට්ටමේ පරිසර පද්ධතිවල පැවැත්ම සහතික කිරීම පිණිස ඉතා වැදගත් වේ.

## රූ. 4.00 පිදුරුතලාගල කඳුවැටිය

මීටර් 2,524 ක් උස ශ්‍රී ලංකාවේ උසම කඳුවැටිය වශයෙන් සලකනු ලබන පිදුරුතලාගල කඳුවැටිය නුවරඑළිය දිස්ත්‍රික්කයේ නුවරඑළිය නගරයට ආසන්නව පිහිටා ඇත. නිතර මිහිදුමින් වැසී පවතින පිදුරුතලාගල ඉහළ කඳුකර කලාපීය වනාන්තරයක් සහිත සුවිශේෂීය වනගහනයකින් යුතු ස්ථානයකි. මිහිදුමත් අධික සුළං ප්‍රවාහයනුත් නිසා ම මෙහි ශාක සතුව සුවිශේෂීය පාරිසරික අනුවර්ථන දැකිය හැක. උස් කඳු මුදුනේදී පවා මිටි ශාක පැවතීම මෙන්ම ඒවායේ අතුපතර සුළඟට ප්‍රතිවිරුද්ධ දෙසට හැරී ඇඹරී ඇති ආකාරය දැකගත හැක.

මෙහි ශාක විවිධත්වය පිළිබඳව මේ වන විට සිදුකර ඇති පර්යේෂණයන්ට අනුව ශාක කුල 41කට අයත්වන ශාක විශේෂ 112ක් පමණ වාර්තාගත වී ඇත. ඒවා අතුරින් විශේෂ 57ක් මෙරටට ආවේණික විශේෂ වේ. එසේම ගෝලීය වශයෙන් තර්ජනයට ලක් වූ විශේෂ 16ක් ද මීට අයත් ය. කීන විශේෂයේ ශාක, නෙලු, මහරත්මල් ඒවා අතරින් සුලභය. එසේම තලන් (*Litsea gardneri*) වැනි ශාකද දැකගත හැකිය.

පිදුරුතලාගල වන පියසේ සත්ත්ව විවිධත්වය ද ඉතා සුවිශේෂී අගයක් ගන්නා අතර එහිදී උභය ජීවීන් විශේෂ 30 ක්, පක්ෂි විශේෂ 05ක්, සමනල විශේෂ 06 ක්, ක්ෂීරපායි විශේෂ 10 ක් මෙන්ම උරග විශේෂ 03 ක් ද වාර්තා වෙයි. කඟමුව අං කටුස්සා (*Ceratophora stoddartii*) මෙම ජීවීන් අතරින් සැලකිය යුතු ජීවී සංඛ්‍යාවක් මෙරටට ආවේණික වීම ද සුවිශේෂීය කරුණකි. විශේෂයෙන්ම උභය ජීවීන් විශේෂ 06 ක්, මෘදු වංශිකයින් විශේෂ 05 ක්, උරගයින් විශේෂ 03 ක් ද ඊට අයත් ය.

මෙසේ පිදුරුතලාගල වාසභූමි කරගන්නා සතුන් අතරින් උභය ජීවී විශේෂ 07ක් ජාතික වශයෙන් වඳ වී යාමේ තර්ජනයට මුහුණදෙන දුර්ලභ උභයජීවී විශේෂ වේ. එසේම එක් පක්ෂි විශේෂයක් ද උරග විශේෂ 03ක්, ක්ෂීරපායි විශේෂ 05 ක් ද, ජාතික වශයෙන් තර්ජනයට ලක්වූ විශේෂ වේ.

## රූ. 4.50 - සප්තකන්‍යා කඳුවැටිය

නුවරඑළිය දිස්ත්‍රික්කයේ ලක්ෂපාන දිය ඇල්ල ආසන්නයේ පිහිටා ඇති සප්තකන්‍යා කඳුවැටියේ උසම කන්ද ලෙස සැලකෙන 'බල්ලපැන්නගල කන්ද' මීටර් 1,276 ක් උසය. මෙම කඳුවැටිය පිළිබඳ ජනතා අවධානය යොමු වූනේ 1970 දශකයේදී කන්දේ ගැටී සිදුවූ ගුවන්යානා අනතුර නිසා ය.



උස් කඳුකර නිවර්තන වනාන්තරයකින් වැසී ඇති සප්තකන්‍යා කඳුවැටියේ වැඩි කොටසක් පාෂාණමය මතුපිටකින් යුක්තය. මෙහි ශාක විවිධත්වය බොහෝ සෙයින් සමනල අඩවියේ විවිධත්වයට සමාන වන අතර ශාක කුල 65 ක් ද, ඝණ 155 ක් ද, විශේෂ 256 ක් ද, දැකිය හැක. මෙයින් විශේෂ 148 ක් ශ්‍රී ලංකාවට ආවේනික ශාකවන අතර 06 ක් දුර්ලභ ශාක වේ.

සත්ත්ව විවිධත්වය සලකනවිට උරග විශේෂ 12 ද, සමනල විශේෂ 01 ද, ක්ෂීරපායි විශේෂ 08 ද, පක්ෂි විශේෂ 30 ක්, උභය ජීවී විශේෂ 09 ද, ඇතුළුව සත්ත්ව විශේෂ 72 ක් හමුවන අතර විශේෂ 39 ක් ආවේනික වේ.

## රූ. 16.50 - කිරිගල්පොත්ත කන්ද

ශ්‍රී ලංකාවේ කඳු අතරින් උසින් දෙවන ස්ථානයන්හි ලා ගැනෙන කිරිගල්පොත්ත කන්ද නුවරඑළිය දිස්ත්‍රික්කයේ හෝටන්තැන්න වන රක්ෂිතය ආසන්නයේ පිහිටා ඇති අතර මීටර් 2,395 ක් උස ය.

නිරන්තර මිහිදුමත්, වැසි සහිත දේශගුණයත්, දැඩි සුළං ප්‍රවාහයත් නිසා මෙහි ඇති ශාක ප්‍රජාව උස් කඳුකර කලාපීය ලක්ෂණ පෙන්වයි. කුරු ශාක පැවතීම ශාකයේ අතු පතර දැඩිව ඇඹරී පැවතීම මෙන්ම ශාක මත පෙඳපායී බහුලව පැවතීමත් දැකගත හැකිය.

වනයේ යටි ස්ථරය නෙලු ශාක මඟින් ආවරණය වී ඇති අතර කීන විශේෂයේ ශාක (*Syzygium* spp.) සුලභය. කඳු මුදුනට වන්නට තරමක සමතල භූමියක් දැකිය හැකි අතර ප්‍රදේශය පුරාම කුරු ශාක ව්‍යාප්තව ඇත.

මෙහි සත්ත්ව විශේෂ අතර ගෝනා, දිවියා, වැනි විශාල ක්ෂිරපායින් ද අං කටුස්සන් (*Ceratophora stoddartii*) හා වෙනත් උරග විශේෂ රාශියක් ද දැකගත හැකිය. අඳුරු නිල් මැසිමාරා (*Eumyias sordida*) ලංකා පීත කන් කොන්ඩයා (*Pycnonotus penicillatus*) වැනි මෙරටට ආවේණික පක්ෂීන් ද කිරිගල්පෙත්තේ දී හමු වේ.

කිරිගල්පොත්ත වනපියස ජෛව විද්‍යාත්මකව මෙන්ම බෙලිහුල් ඔයේ ජල පෝෂක ප්‍රදේශය ලෙස ද ක්‍රියාකරන සුවිශේෂීය පාරිසරික ස්ථානයකි.

## රු. 23.00 - රිටිගල කන්ද

ශ්‍රී ලංකාවේ උතුරුමැද පළාතේ උසම ස්ථානය ලෙස සැලකෙන මීටර් 764.25 උසැති රිටිගල කන්ද අනුරාධපුර දිස්ත්‍රික්කයේ රිටිගල ප්‍රදේශයේ පිහිටා ඇත.

සමනොල ශිඛරය හැරුණුවිට මෙරට දීර්ඝතම ඉතිහාසයක් සහිත කන්ද ලෙස මෙය හැඳින්විය හැක. මහා වංශයේ සඳහන් පරිදි 'අරිට්ඨ පබ්බත' ලෙස හැඳින්වෙන්නේ මෙම රිටිගල කන්දයි. අතීතයේ යුධ කටයුතු සඳහා සේනා සංවිධානය කළ ස්ථානයක් ලෙස යොදා ගැනුනු මෙම රිටිගල කඳුවැටිය පසුකලෙක එනම්, ක්‍රි. පූ. 187 - 177, සූරතිස්ස රජ දවස සංඝ විහාරය ඉදිකිරීමත් සමඟම ආගමික ස්ථානයක් ලෙස ප්‍රකට විය. එතැන් පටන් විටින් විට විවිධ රජවරුන් අතින් මෙහි වෙහෙර විහාර සිදු කර ඇත.

පසුකාලීනව එල්ල වූ පරසතුරු ආක්‍රමණ නිසා රිටිගල කන්දේ පිහිටි වෙහෙර විහාර ආදිය විනාශ විය. වසර 1887 දී ඉංග්‍රීසි ජාතික හෙන්රි ට්‍රිමන් මෙම කන්ද තරණය කර එහි ඇති ශාක පිළිබඳව ද අධ්‍යයනයක් කර මෙම කන්ද සුවිශේෂ ජෛව විද්‍යාත්මක ප්‍රදේශයක් ලෙස හඳුනාගන්නා ලදී.

වියළි කලාපයේ පිහිටිය ද උද්භිද විද්‍යාත්මකව ඉතා සුවිශේෂීය ලක්ෂණ පෙන්නුම් කරමින් විවිධ දේශගුණික කලාපවලට අයත් ශාක විශාල ගණනක් මෙය තුළින් වාර්තාගතවන බව මේ වනවිට අනාවරණය කරගෙන ඇත. පහත් හා උසස් ශාක විශේෂ 409කට අධික සංඛ්‍යාවක් මෙම වන පියසින් වාර්තාගතවන අතර ඒ අතරින් *Coleus elongates, Thunbergia fragrans var* යන ශාක රිටිගල වනපියසට ම පමණක් ආවේණිකය. එසේම *Madhuca clavata* (රිටිගල මී) යන විශේෂය පළමු වරට සොයාගන්නා ලද්දේ ද රිටිගල ශාක ප්‍රජාවෙනි. දළ වශයෙන් ශාක කුල 98 ක් පමණ සංඛ්‍යාවක් මෙහි වාර්තා වී ඇත.

ඖෂධ උයනක් ලෙස ප්‍රකට මෙම වනපියස බිංකොහොඹ, වනරාජ, කුඩා හැඩයා, මහා හැඩයා, වැනි දුර්ලභ ඔසු පැල රාශියකට සෙවණ සලසයි.

ශාක විවිධත්වය මෙන්ම සත්ත්ව විවිධත්වය ද මෙම වනපියසේ අද්විතීය ස්ථානයක් හිමි කරගන්නා අතර අලියා, දිවියා, වලසා, ගෝනා වැනි විශාල ක්ෂීරපායින් ද, කුඩා ක්ෂීරපායින් රාශියක් ද, පක්ෂීන්, කෘමීන්, උරගයින් වැනි ජීවීන් රාශියක් ද මෙහි දැකගත හැක.



රිටිගල එය සතු අද්විතීය ජෛව විවිධත්වය නිසා ම වර්ෂ 1941 නොවැම්බර් මස 07 වැනි දින සිට දැඩි ස්වාභාවික රක්ෂිතයක් ලෙස අංක 8809 දරන ගැසට් නිවේදනය යටතේ ප්‍රකාශයට පත් කරන ලදී.

### මුද්දර පිළිබඳ විස්තර

| | |
|---|---|
| නිකුත් කරන දිනය | : 2003 මැයි මස 22 වැනි දින |
| වටිනාකම් | : රු. 4.00, රු. 4.50, රු. 16.50, රු. 23.00, |
| සැලසුම්කරු | : ඩී. ජී. සුදත් ජයවර්ධන |
| හැඩය | : තිරස් |
| ප්‍රමාණය | : 50 x 20 මි. මී. |
| මුද්‍රණ ක්‍රමය | : ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| සිදුරු ප්‍රමාණය | : 13 1/2 x 12 |
| පත් සැකැස්ම | : පත්‍රිකාවක මුද්දර 50 බැගින් |
| මුද්‍රණකරුවෝ | : රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| වර්ණ (පාවිච්චි කළ) | : හතරකි |
| කඩදාසි | : 102, ජීඑස්එම් ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : පීවීඒ |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : 10,00,000 x 4 |
| තිළිණ ඇසුරුම්පත් | : 2,500 - (රු. 100/= බැගින් |
| තිළිණ ඇසුරුම්පතක ප්‍රමාණය | : 10.8 x 20 සෙ.මී. |
| විසිතුරු තැපැල්පත් | : 7,000 x 4 |
| විසිතුරු තැපැල්පතක ප්‍රමාණය | : 11.5 x 17.5 සෙ.මී. |

---

### විකිණීමේ කොන්දේසි

මුද්දර සහ මුල්දින කවර සැපයීම සඳහා වූ මුදල් ඇණවුම් හෝ චෙක්පත්, "මහජන බැංකුව, මුදලිගේ මාවත, පෝස්ට් මාස්ටර් ජනරාල්, ගිණුම් අංක 1010003010" යනුවෙන් ලියා අධ්‍යක්ෂ, මුද්දර කාර්යාංශය, එම්. අයි. සී. එච්. ගොඩනැගිල්ල, කොළඹ 00100 යන ලිපිනයට සම්පූර්ණ විස්තර සහිතව එවිය යුතුය.

*දුරකථන අංක* : 325588, 326163, 326177.

அஞ்சல் திணைக்களம்,
திறான்ஸ்வேக்ஸ் ஹவுஸ்,
கொழும்பு 00100.

உலக உயிரின பல்வகைமைத் தினத்தைக் குறிக்குமுகமாக இலங்கை அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம் ரூபா 4.00, ரூபா 4.50, ரூபா 16.50, ரூபா 23.00 இனப் பெறுமதிகளில், இலங்கையிலுள்ள மலைகளின் தாவர, உயிரின பல்வகைமையைச் சித்தரிக்கும் நான்கு புதிய அஞ்சல் முத்திரைகளை 2003 மே 22 ஆந் திகதி வெளியிடும். இத்தினத்தில், அஞ்சல் திணைக்களத்தின் வரலாற்றில் முதன்முதலாக நான்கு முத்திரைகளையும் சித்தரிக்கும் பட அட்டைகளும் வெளியிடப்படும்.

பூகோள ரீதியாக, இலங்கை கடந்தகாலத்தில், ஒரு பெரும் நிலப்பகுதியின் பகுதியாகவிருந்தது. ஆனால் அது முழுமையாக நீரினால் மூழ்கடிக்கப்படவில்லை. நில இயல் கோட்பாடுகளின் அடிப்படையில், இத்தீவின் 90% பளிங்குப் பாறைகளைக் கொண்டுள்ளது.

இலங்கையை, நிலத்தின் ஏற்றம் மற்றும் தன்மையின் அடிப்படையில், ஐந்து பிரதான நில இயல் சார்ந்த வலயங்களாகப் பிரிக்கலாம். அவை யாவன,

(1) மத்திய மேட்டு நிலம்
(2) கரையோரச் சமவெளி
(3) தென்மேற்கு வலயம்
(4) கிழக்கு, தென்கிழக்கு வலயம்
(5) வடமத்திய தாழ் வலயம்

இலங்கையின் பிரதான மலைத்தொடர்கள், மத்திய மேட்டு நிலத்தில் அமைந்துள்ள இலங்கையின் மிக உயர்ந்த மலையான பீதுருதாலகாலையையும் மற்றும் கிரிகல்பொத்த, ஏழுகன்னி ஆகிய மலைகளையும், தாழ் வலயத்தின் ரிதிகல போன்ற தனித்தனியான மலைகளையும் கொண்டுள்ளன.

மலைகள், நீர் மற்றும் மின்சார உற்பத்தி, பல்வேறு தாவரங்கள், உயிரினங்களின் தோற்றத்துக்கும், வளர்ச்சிக்கும் மூலதாரமாக உள்ளன. அத்துடன் கனிப்பொருட்கள், விவசாய உற்பத்திப் பொருட்கள், மரங்கள் போன்ற வளங்களையும் மலைகள் கொண்டுள்ளன.



எங்களது பூகோளத்தின் சிக்கலானதும், ஒன்றுடனொன்று தொடர்புடையதுமான உயிரின வாழ்க்கை அமைப்பு தொடர்ந்தும் நிலைத்து நிற்பதற்கு மலைசார் சூழல் பாதிக்கப்படாது பேணப்படுவது அத்தியாவசியமாகும்.

## ரூபா 4.00-பீதுருதாலகாலை மலைத்தொடர்

நுவரெலியா மாவட்டத்தில், நுவரெலியா நகருக்கு அண்மையாக, இலங்கையின் அதிஉயரமான மலையாகிய பீதுருதாலகாலை அமைந்துள்ளது. இதனது உயரம் 2524 மீற்றர். இந்த மலையிலுள்ள வனவளங்கள் விசேடமானவை. உயர் மலைகளில் காணப்படும் காடுகளின் தனிச்சிறப்புகள் இந்த மலையிலும் காணப்படும் தாவரங்களில் காணப்படுவ தோடு, அவைகள் எப்போதும் பனிப்படலங்களினால் சூழப்பட்டிருக்கும். காற்று கடுமையாக வீசுவதாலும், பனி பெய்வதாலும், இந்த வலயத்தில் காணப்படும் தாவரங்கள் தனிச்சிறப்புடையனவாக உள்ளன. தாவரங்கள் பொதுவாக முறுக்குற்று, காற்று வீசும் பக்கத்துக்கு சாய்ந்தனவாகவுள் ளன. இந்த மலையிலுள்ள தாவரங்களின் பல்வகைமையை நோக்கும்போது, 41 தாவரக் குடும்பங்களும், 112 தாவர இனங்களும் காணப்படுகின்றன. இவைகளில் 57 இனங்கள் இலங்கையில் மட்டும் வளரும் தாவரங்களாகும். 16 தாவர இனங்கள் பூகோள ரீதியாக அரியதாகக் காணப்படுவதுடன், அழிந்துபோகும் அபாயத்திலுள்ளன.

பீதுருதாலகாலை மலைப்பகுதியில் 30 நில, நீர் வாழ் உயிரினங்களும், 5 பறவை இனங்களும், 6 வண்ணத்துப்பூச்சி இனங்களும், 10 பாலூட்டி இனங்களும், 3 ஊர்வன இனங்களும் காணப்படுகின்றன. இவைகளில் 6 பாலூட்டி இனங்கள், 3 ஊர்வன இனங்கள், 5 நத்தை இனங்கள் இப்பகுதியில் மட்டுமே காணப்படுவன. இந்த மலைப்பகுதியில் வாழும் உயிரினங்களில் 7 நில, நீர் வாழ் உயிரினங்களும், 3 பறவை இனங்களும், 3 பாலூட்டி இனங்களும் அழிந்துபோகும் அபாயத்திலுள்ளன.

**ரூபா 4.50-ஏழு கன்னி மலைத்தொடர்**

ஏழு கன்னி மலைத்தொடர் நுவரெலியா மாவட்டத்தில், லக்ஷபான நீர் வீழ்ச்சிக்கு அண்மையாக அமைந்துள்ளது. பலஸ்பென்னகலையில் அமைந்துள்ள சிகரம் 1276 மீற்றர் உயரமுடையது.

1970 இன் முற்பகுதியில் ஏற்பட்ட விமான விபத்து காரணமாக இந்த மலை மீது பொதுமக்களின் கவனம் ஈர்க்கப்பட்டது.

பெரும்பாலும் கல்மேற் பரப்பினையுடைய இந்த மலைத்தொடரில் வெப்பமண்டலம் சார்ந்த காடுகள் காணப்படுகின்றன. இந்த மலைத்தொடரின் தென்மேற்குப் பகுதியில் சிவனொளிபாத மலை அமைந்துள்ளது. சிவனொளிபாத மலையில் காணப்படும் தாவர இனங்களே இந்த மலையிலும் காணப்படுகிறது.

265 தாவர இனங்களைக் கொண்ட 65 தாவரக் குடும்பங்கள் இந்த மலையில் காணப்படுகின்றன. இவைகளில் 6 அரியதாகக் காணப்படுகிறது. 148 தாவர இனங்கள் இலங்கையில் மட்டுமே வளர்கின்றன. இந்த மலையில் உயிர் வாழ்வனவற்றை நோக்குகையில் 72 இனங்கள் காணப்படுகின்றன. அவைகளில் 39 இனங்கள் இலங்கையில் மட்டுமே காணப்படுகின்றன.

இவைகளில் 6 பாலூட்டிகள், 12 ஊர்வன, 30 பறவைள், 9 நில, நீர் வாழ் உயிரினங்கள், 01 வண்ணத்துப்பூச்சி.

**ரூபா 16.50-கிரிகல்பொத்த மலை**

இலங்கையின் இரண்டாவது உயர்ந்த மலையான கிரிகல்பொத்த 2395 மீற்றர் உயரமுடையது. இது நுவரெலியா மாவட்டத்தின் தென்பகுதியில் ஹோட்டன் சமவெளிக்கு அண்மையாக அமைந்துள்ளது.

இந்த மலையில் காணப்படும் தாவரத் தொகுதி, பலத்த காற்று, மழை சீதோஷ்ண நிலை, பனி காரணமாக உயர் மலைக் காடுகளின் தன்மையைக் கொண்டுள்ளது. இவ்வலயத்தில் குட்டை மரங்களே பொதுவாகக் காணப்படுகின்றன. மரங் களின் கிளைகள் முறுக்குற்றுள்ளன.

பாலூட்டி மிருகங்களான சிறுத்தை, சம்பா, ஊர்வனவாகிய பல்லி, பறவைகளில் மஞ்சள் செவியுடைய பாடும் பறவை இனத்தையும், மங்கிய நீலவண்ணமுடைய பறவைகளையும் இந்த மலைப்பிரதேசத்தில் காணலாம்.

கிரிகல்பொத்த பல்வகைமையுடைய தாவரங்கள், உயிரினங்கள் வாழும் மலைப்பிரதேசம் மட்டுமல்லாது, பொலிகுல் ஆறு நீர் வாங்கும் பகுதியும் ஆகும்.

**ரூபா 23.00-ரிதிகல மலை**

வடமத்திய மாகாணத்தில், அனுராதபுர மாவட்டத்தில், ரிதிகலவில் அமைந்துள்ள இந்த மலை 764.25 மீற்றர் உயரமுடையது. இது அப்பகுதியில் காணப்படும் மிக உயர்ந்த மலை. ரிதிகல மலை நீண்ட வரலாற்றை கொண்டுள்ளது. மஹாவம்சத்தில் இந்த மலை, "அறித்த பட்டட" எனக் குறிப் பிடப்பட்டுள்ளது. பண்டைய காலத்தில், இப்பகுதியில் அரசர் கள் போர் வீரர்களுக்கு படைப்பயிற்சி அளித்ததாக வரலாற்று குறிப்புகளுமுண்டு. கி. மு. 177-183 காலப்பகுதியில் சுரதிஸ்ஸ மன்னன் இந்த மலையில் "சங்க விஹாரையை" தாபித்தான். பின்னர், பல மன்னர்கள் இந்த விஹாரையை மீளப்புதுப்பித் தும் ஸ்தூபிகளையும் கட்டினார்கள். ஆனால், பிற்காலத்தில் எதிரிகளினால் இந்த விஹாரையும், ஏனைய கட்டிடங்களும் அழிக்கப்பட்டன. 1887 இல் ஹென்றி ட்ரெமன் எனும் ஆங்கிலேயர் இந்த மலை உச்சிக்குச் சென்று, அங்குள்ள தாவர, உயிரினங்களை ஆராய்ந்தார்.

இந்த மலை உஷ்ண வலய பிரதேசத்தில் அமைந்திருந்தா லும், பலவகையான தாவரங்களைக் கொண்டுள்ளது. 98 தாவர குடும்பத்தைச் சேர்ந்த 409 தாவர இனங்கள் காணப்படுகின் றன. இங்கு காணப்படும் சில தாவரங்கள் வேறிடங்களில் காணப்படுவதில்லை. இந்த மலைப் பிரதேசத் தில் மருத்துவ மூலிகைச் செடிகளும் பெருமளவில் வளரு கின்றன.

இப்பகுதியில், யானைகள், சிறுத்தைகள், கரடிகள், பல்வகை யான பறவைகள், ஊர்வன, புழு, பூச்சிகள் காணப்படுகின்றன.

இந்த மலையில் காணப்படும் பல்வகைமை உயிரினங்கள், தாவரங்களை உற்றுநோக்கும் போது மிக இயற்கை வளம் வாய்ந்த மலையாக ரிதிகல விளங்குகின்றது.

## தொழில்நுட்ப விபரங்கள்

| | | |
|---|---|---|
| வெளியிடும் திகதி | : | 22 மே 2003 |
| இனப்பெறுமதி | : | ரூபா 4.00, ரூபா 4.50, ரூபா 16.50, ரூபா 23.00 |
| வடிவமைப்பாளர் | : | டி. ஜீ. சுதத் ஜெயவர்தன |
| வடிவம் | : | கிடையானது |
| முத்திரை அளவு | : | 50 x 20 மி.மீ. |
| அச்சடிக்கும் முறை | : | எதிர்ப்படி கல்லச்சு முறை |
| துளையீடு | : | 13 1/2 x 12 |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சகத் திணைக்களம், இலங்கை |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 50 முத்திரைகள் |
| நிறங்கள் | : | 4 நிறங்கள் |
| பசை | : | பிவிஏ |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் |
| அச்சடித்த தொகை | : | 10,00,000 x 4 |
| முத்திரைகளை சித்தரிக்கும் பட அட்டைகள் | : | 7000 x 4 செ.மீ. |
| அளவு | : | 11.5 x 17.5 செ.மீ. |
| அறிமுக அட்டை | : | 2500 (ஒன்றின் விலை)100/- ரூபா |
| அளவு | : | 10.8 x 20 செ.மீ. |

---

### விற்பனை நிபந்தனைகள்

புதிய முத்திரைகளையும், முதல் நாள் உறைகளையும் பெற்றுக் கொள்வதற்கான முழு விவரங்களுடன், "அஞ்சல் அதிபதி, கணக்கு இலக்கம் 1010003010, மக்கள் வங்கி, முதலிகே மாவத்தை, கொழும்பு 00100" என்னும் கணக்குக்கு கொடுக்கப்படத்தக்கதாகப் பெறப்பட்ட சர்வதேச காசுக்கட்டளை அல்லது வங்கி வரைவு இவற்றை இணைத்து "கொழும்பு 00100, சோ. இ. க. நி. கட்டடம், அஞ்சல் திணைக்களம், முத்திரைப் பணியகம், பணிப்பாளர்" எனும் முகவரிக்கு அனுப்புதல் வேண்டும். உத்தரவாதமளிக்கப்படாத தனியாரின் காசோலைகள் ஏற்றுக்கொள்ளப்படமாட்டாது.

தொலைபேசி : 325588, 326163, 326177



Department of Posts,
Transworks House,
Colombo 00100.

THE Philatelic Bureau of the Department of Posts will issue a set of four new postage stamps in the denominations of Rs. 4.00, Rs. 4.50, Rs. 16.50 and Rs. 23.00, together with a presentation pack and four maximum cards, for the first time in Sri Lanka, depicting mountain biodiversity of Sri Lanka, on 22nd May, 2003, which is the World Biodiversity Day.

Sri Lanka formed part of Gondwanaland in the geological past and it was never fully submerged by the sea. In terms of geology, 90% of the island consists of Precambrian crystalline rocks.

In Sri Lanka, based on the elevation and nature of the terrain, five main geomorphic regions can be identified as follows :—

(1) The Central Highlands
(2) Coastal Fringe
(3) South-West Country
(4) East and South-East Country
(5) North Central Lowland.

The Central Highlands which includes Piduruthalagala the highest peak, Kirigalpotta, Seven Maidens and several isolated mountains in the lowlands, such as Ritigala, are the major components of the mountanious environment of Sri Lanka.

Mountains are an important source of water, energy and biological diversity. Furthermore other valuable resources such as minerals, forests and agricultural products also originate from there.

As a major sub-system of the complex and inter-related ecology of our planet, mountanious environments are essential for the survival of the national and global ecosystems.

**Rs. 4.00 — Piduruthalagala Mountain Range**

Piduruthalagala mountain, the highest in Sri Lanka, which is 2,524 meters high, is located near Nuwara-Eliya town in the District of Nuwara-Eliya. It is the home of a special forest, which shows high mountain forest features and is always enveloped in mist. Because of the prevailing high wind and mist the flora in this region is unique. It is generally stunted and twisted, and leans with

the wind. When considering the biodiversity of this mountain, 41 plant families and 112 plant species are found now. Out of those 112 plants species 57 are endemic to Sri Lanka. There are 16 species, which are very rare globally and are in danger of extinction. *Calophyllum* Sp. *Strobilanthes* Sp. *Rhododendron* and Litsea gardneri are very common to this region.

There are 30 amphibian, 5 bird, 6 butterfly, 10 mammalian and 3 reptilian species found in the Piduruthalagala mountain region. Out of those 6 amphibian, 3 reptilian and 5 mollusc species are endemic to Sri Lanka. Among those 7 amphibian, 3 bird and 5 mammalian species are in danger of extinction.

**Rs. 4.50 — Seven Maidens Mountain Range**

Seven Maidens Mountain Range is located near the Lakshapana waterfall in the Nuwara-Eliya District, the highest mountain in the range is Ballapennagala, at 1,276 meters.

This mountain range received the attention of the general public as a result of the plane crash, which happened in the early seventies.

The mountain range, the majority of which has a rocky surface, is covered by a tropical mountain forest.

As Adams Peak is situated south-west of this mountain range, the plant diversity is almost similar to that of Adams Peak.

There are 65 plant families including 155 genera and 256 species. Of these 6 are rare and 148 are endemic to the country. Considering the faunal diversity, 72 species, including 39 endemic species of which 8 mammalian, 12 reptilian, 30 bird, 9 amphibian and 1 butterfly have been identified.

**Rs. 16.50 — Kirigalpoththa Mountain**

Kirigalpoththa Mountain, the second highest in Sri Lanka, at 2,395 meters is located near Horton Planes in the Southern part of the District of Nuwara-Eliya.

The plant community on this mountain also has high mountain forest features because of high winds, rainy weather and continuous mist. Pigmy trees, are most common in this region where their branches are twisted and Briophytes grow on these trees.



The lower region of the forest on this mountain is covered by *Strobilanthes* Spp. and *Syzygium* Spp. There is a flat area at the top of the mountain on which pigmy trees are the most common plant.

The mammalian species like the leopard and samba, reptiles species, such as Lizard (*Ceratophora stoddartii*) and endemic bird species, such as the Sri Lanka dull-blue flycatcher (*Eumyilas sordida*) and Sri Lanka yellow-eared bulbul (*Pycnonotus penicillatus*) are to be found on this mountain.

Kirigalpoththa is not only a unique biodiversity area, but also a catchment area for the Belihul-Oya.

**Rs. 23.00 — Ritigala Mountain**

Ritigala Mountain, the highest peak in North Central Province of Sri Lanka at 764.25 meters, is located in Ritigala in the District of Anuradhapura. Ritigala Mountain has a very long history. In the " Mahawansha " History Book it is referred to as " Arittha Pabbata ". In ancient times it was a place where the king raised his army. Between B.C. 177 - 187 King Surathissa built a Buddhist temple called " Sankha Viharaya " on this mountain and after that several other kings also reconstructed the temple and added more viharas and stupas.

After some years it's temple and other buildings were destroyed by enemy action. In 1887 an Englishman, Henry Trieman climbed the mountain and studied the *flora and fauna* and found the biological importance of this place.

Though it is in the dry zone it contains different kinds of plants, which belong to different zones in the country. There are 98 Geneous and 409 plant species, which belong to both the high and low plants found in this mountain, *Coleas elongates, Thunbergra fragrans* var and *Madhuca clavata* (Ritigala Mee) are unique to Ritigala mountain. This mountain is also considered as a Herbal Medical Garden where herbal medical plants, such as *Huperzia squarrosa, Hypersia phlegmania, Munronia pinnata, Anoectochilus Setaceus* are commonly found.

Not only plants but also different kinds of mammals like elephants, leopards, bears and different kinds of birds, insects and reptiles are found in this mountain.

When considering its unique biodiversity, Ritigala Mountain was designated a high natural insured area.

## Technical Details

| | | |
|---|---|---|
| Date of Issue | : | 22nd May, 2003 |
| Denominations | : | Rs. 4.00, Rs. 4.50, Rs. 16.50, Rs. 23.00 |
| Designer | : | D. G. Sudath Jayawardena |
| Format | : | Horizontal |
| Stamp size | : | 50 x 20 mm. |
| Printing Process | : | Offset Lithography |
| Perforations | : | 13 1/2 x 12 |
| Sheet Composition | : | 50 stamps per sheet |
| Printers | : | Department of Government Printing, Sri Lanka |
| Colours (used) | : | 4 colours |
| Paper | : | 102 gsm. Security Stamp paper |
| Gum | : | PVA |
| Quantity Printed | : | 1,000,000 x 4 |
| Presentation packs | : | 2,500 – (Rs. 100/= each) |
| Presentation packs Size | : | 10.8 x 20 cm. |
| Maxi cards | : | 7,000 x 4 |
| Maxi cards Size | : | 11.5 x 17.5 cm. |

---

## Terms of Sale

Orders for supply of the new stamps and First Day Covers should be addressed with full particulars to the Director, Philatelic Bureau, Department of Posts, M. I. C. H. Bldg. Colombo 00100, Sri Lanka and should be accompanied by an International Money Order or Bank Draft drawn in favour of "People's Bank, Mudalige Mawatha, Colombo 00100, Postmaster-General's Account No. 1010003010" and forwarded to the Director, Philatelic Bureau. Uncertified personal cheques are not acceptable.

*Telephone Nos.* : **325588, 326163, 326177**
*E-mail* : slpost@srilanka.net
*Web-site* : www.lanka.net/slpost